14 S I, II

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2023(2024)
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2023(2024)
General Certificate of Education (Ord. Level) Examination, 2023(2024)

කතෝලික ධර්මය I, II
கத்தோலிக்கத் திருமறை I, II
Catholicism I, II

පැය තුනයි
மூன்று மணித்தியாலம்
Three hours

අමතර කියවීම් කාලය - මිනිත්තු 10 යි
மேலதிக வாசிப்பு நேரம் - 10 நிமிடங்கள்
Additional Reading Time - 10 minutes

අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේදී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.

## කතෝලික ධර්මය I

**උපදෙස්:**

* **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.
* අංක **1** සිට **40** තෙක් ප්‍රශ්නවල, දී ඇති (1), (2), (3), (4) යන පිළිතුරුවලින් **නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ** පිළිතුර තෝරා ගන්න.
* **ඔබට සැපයෙන පිළිතුරු පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති කව අතුරෙන් ඔබ තෝරාගත් පිළිතුරෙහි අංකයට සැසඳෙන කවය තුළ (X) ලකුණ යොදන්න.**
* එම පිළිතුරු පත්‍රයේ පිටුපස දී ඇති අනෙක් උපදෙස් ද සැලකිල්ලෙන් කියවා, ඒවා ද පිළිපදින්න.

1. "එතුමා ඉතිහාසඥයෙකි, චිත්‍ර ශිල්පියෙකි, එමෙන් ම වෛද්‍යවරයෙකි." මෙලෙස හඳුන්වනු ලැබුයේ
   (1) ශුද්ධ වූ මාක්තුමා ය. (2) ශුද්ධ වූ මතෙව්තුමා ය.
   (3) ශුද්ධ වූ ලූක්තුමා ය. (4) ශුද්ධ වූ ජොහන්තුමා ය.

2. නව ගිවිසුමේ වැඩිම පොත් සංඛ්‍යාවක් ලියන ලද්දේ
   (1) ශුද්ධ වූ මතෙව්තුමා විසිනි. (2) ශුද්ධ වූ ජොහන්තුමා විසිනි.
   (3) ශුද්ධ වූ ජාකොබ්තුමා විසිනි. (4) ශුද්ධ වූ පාවුලුතුමා විසිනි.

3. "මා නුඹට දිය යුතු දෙය ඉල්ලන්න." යනුවෙන් දෙවි සමිඳාණෝ සලමොන් රජතුමාට පැවසුයේ කුමන ස්ථානයේ දී ද?
   (1) ගිබියොන්හි දී (2) බෙතෙල්හි දී (3) අම්මොන්හි දී (4) ජෙරිකෝහි දී

4. ජුදයින් අතට පාවා දීමෙන් අනතුරුව ජේසුස් වහන්සේව පළමුව රැගෙන ගියේ,
   (1) පිලාත් ඉදිරියට ය. (2) ප්‍රෙතෝරියම් වෙතට ය.
   (3) හෙරෝද් ඉදිරියට ය. (4) උත්තම පූජකයාගේ මැඳුර වෙතට ය.

5. 'පෙන්තකොස්ත' යන්නෙහි අර්ථය
   (1) තිහ යන්න ය. (2) තිස්තුන යන්න ය.
   (3) හතලිහ යන්න ය. (4) පනහ යන්න ය.

6. ශුද්ධ වූ ස්තේපන්තුමාට ගල් ගසා මරා දැමූ විට සතුටු වූයේ
   (1) සාවුල්තුමා ය. (2) පිලිප්තුමා ය.
   (3) ජාකොබ්තුමා ය. (4) කොර්නේලියස්තුමා ය.

7. "බිය නොවන්න. මෙතැන් සිට ඔබ මිනිසුන් දිනනු ඇත." ජේසුස් වහන්සේ මෙසේ පැවසුයේ
   (1) ශුද්ධ වූ ජොහන්තුමාට ය. (2) ශුද්ධ වූ පේදුරුතුමාට ය.
   (3) ශුද්ධ වූ ඇන්ඩෘතුමාට ය. (4) ශුද්ධ වූ ජාකොබ්තුමාට ය.

8. විශ්වීය සභාව එක ජාතියකට, එක දේශයකට නොහොත් එක් ප්‍රදේශයකට සීමා වී නැති නිසා එය විස්තර කරනුයේ
   (1) ඒකීය ලෙස ය. (2) ශුද්ධ වූ ලෙස ය.
   (3) කතෝලික ලෙස ය. (4) අපෝස්තලික ලෙස ය.

[දෙවැනි පිටුව බලන්න.

9. දේව ප්‍රසාද නිධානයන්ගේත් දේව ප්‍රසාද නිධානය ලෙස හඳුන්වනු ලබන්නේ
(1) සමගි සන්ධානය ය. (2) දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ය.
(3) පූජකවරය ය. (4) ආශිර්වාදකාර බන්ධනය ය.

10. ජේසුස් වහන්සේ තම ශ්‍රාවකයන්ගේ පාද දෝවනය කිරීමේ සිද්ධිය සඳහන් කරන සුවිශේෂකවරයා වන්නේ
(1) ශුද්ධ වූ ජොහන්තුමා ය. (2) ශුද්ධ වූ ලූක්තුමා ය.
(3) ශුද්ධ වූ මතෙව්තුමා ය. (4) ශුද්ධ වූ මාක්තුමා ය.

11. අත්‍යන්ත වූ ද අපරිමිත වූ ද සදාතනික වූ ද යාගය
(1) ධාන්‍ය පූජාවයි. (2) සහභාගිකමේ පූජාවයි.
(3) කල්වාරි යාගයයි. (4) මෙල්කිසදෙක්ගේ යාගයයි.

12. ආගම් වෙනස්කම් නොතකා ජුදා සිනගෝගයකට හා මුස්ලිම් පල්ලියකට වැඩම කළ පළමු අති උතුම් ශුද්ධෝත්තම පියතුමා වූයේ
(1) පළමුවන ජුවාම් පාවුලු ය. (2) දෙවන ජුවාම් පාවුලු ය.
(3) අටවන පියුස් ය. (4) නවවන පියුස් ය.

13. "එතුමාණෝ සිය දාසියගේ දීනතාව කුළුණු පාමින් සලකා වදාළ සේක." යනුවෙන් පවසන ලද්දේ
(1) මරියතුමිය විසිනි. (2) එළිසබෙත්තුමිය විසිනි.
(3) මරිය මග්දලේනාතුමිය විසිනි. (4) වෙරෝනිකාතුමිය විසිනි.

14. පරිසරය විනාශ කිරීම කුමන පනතට විරුද්ධ පාපයක් ද?
(1) පළමු පනතට (2) දෙවන පනතට
(3) සිව්වන පනතට (4) පස්වන පනතට

15. පොතිපර්ගේ බිරිඳ කළ පෙළඹීමට ජෝසෙප් එකඟ වූයේ නම්, කඩවනුයේ
(1) සිව්වන පනතයි. (2) පස්වන පනතයි.
(3) සයවන පනතයි. (4) හත්වන පනතයි.

16. අනුන්ගේ දේපළ පැහැර නොගන්නටත් සාධාරණ ණය ගෙවන්නටත් උපදෙස් දෙන දේව පනත් වන්නේ
(1) පහ සහ හත ය. (2) හය සහ නමය ය.
(3) හත සහ දහය ය. (4) අට සහ දහය ය.

17. 'දෙවියන් වහන්සේට බොරු කළ අයට භයානක විනිශ්චයක් පැමිණෙන්නේ ය' යන්න පෙන්වා දෙන්නේ
(1) දාවිත් හා ගොලියත් සිද්ධියෙනි. (2) අනනියස් හා සපිරා සිද්ධියෙනි.
(3) පේදුරු හා පාවුලු සිද්ධියෙනි. (4) පේදුරු හා කොර්නේලියස් සිද්ධියෙනි.

18. ජනවන්දනා වසරේ පාස්කු සමයට පෙර ඇති සමය
(1) ආගමන සමයයි. (2) චතාරික සමයයි.
(3) නත්තල් සමයයි. (4) සාමාන්‍ය සමය II අදියරයි.

19. දිව්‍ය පූජාවේ ආරම්භක පිළිවෙතට අයත් කොටසක් වන්නේ
(1) පළමු දේව ප්‍රකාශනයයි. (2) සාධුකාරය හෙවත් සුපුවත් ජය නදයි.
(3) ධර්මානුශාසනාවයි. (4) සුරදූත ගීයයි.

20. 'ජීවිතයේ සෑම වැදගත් අවස්ථාවකටම යාච්ඤාවෙන් සූදානම් විය යුතු ය.' යන්න පෙන්වා දෙන්නේ
(1) යාම යැදුම මගිනි. (2) උත්තම පූජක යාච්ඤාව මගිනි.
(3) මල් උයනේ යාච්ඤාව මගිනි. (4) ස්වාමිවාක් ආරාධනාව මගිනි

21. ප්‍රධාන දිවැසිවරයෙකි, සුළු දිවැසිවරයෙකි, දේශක දිවැසිවරයෙකි. මෙම එක් එක් කාණ්ඩයට අයත් දිවැසිවරයා බැගින් පිළිවෙළින් සඳහන් වන වරණය තෝරන්න.
(1) එසකියෙල්, එලීෂා, හොසියා (2) යෙසායා, ආමෝස්, එලියා
(3) ආමෝස්, එලියා, නාතාන් (4) ජෙරමියා, නාතාන්, මීකා

22. "මනුෂ්‍ය පුත්‍රය, මේ පොත අනුභව කර ගොස් ඊශ්‍රායෙල් වංශයට කතා කරන්න." යැයි වදාළේ
(1) යෙසායා දිවැසිවරයාට ය. (2) ජෙරමියා දිවැසිවරයාට ය.
(3) එසකියෙල් දිවැසිවරයාට ය. (4) ජෝනා දිවැසිවරයාට ය.

23. ජේසුස් වහන්සේ දෙවියන් වහන්සේගේ පුත්‍රයාණන් බවත්, උන් වහන්සේ ඇදහීමෙන් සදාතන ජීවිතය ලැබෙන බවත් සඳහන් කරන සුබාරංචි කතුවරයා වන්නේ
(1) ශුද්ධ වූ මාක්තුමා ය. (2) ශුද්ධ වූ මතෙව්තුමා ය.
(3) ශුද්ධ වූ ලූක්තුමා ය. (4) ශුද්ධ වූ ජොහන්තුමා ය.

24. ස්ත්‍රිය පුරුෂයාගේ ඉල ඇටයකින් මැවීම යන්නෙන් අදහස් කරන්නේ කුමක් ද?
(1) ස්ත්‍රිය පුරුෂයාගේ වහලියක්, පාලිකාවක් නොව ඔහුට සහයවන්නියක් බවයි.
(2) ඉල ඇටය හදවතට සමීප නිසා ප්‍රේමයෙන් හා එකමුතුකමින් ජීවත් විය යුතු බවයි.
(3) ස්ත්‍රිය හා පුරුෂයා යන දෙදෙනාම දේව මැවිලි බවයි.
(4) මිනිස් ගරුත්වය රැකෙන පරිදි ස්ත්‍රිය හා පුරුෂයා වෙනස්කම්වලට ගරු කළ යුතු බවයි.

25. පහත සඳහන් ප්‍රකාශ කෙරේ අවධානය යොමු කරන්න.
A – "මෙතැන් සිට නුඹ වගා කරන විට, එය නුඹට එලදාව නොදෙන්නේ ය."
B – "දූවිල්ලෙන් වූ නුඹ දූවිල්ලටම යන්නෙහි ය."
C – "නුඹ මිහිපිට ඉබාගාතේ යන මිනිසෙකු වන්නෙහි ය."
D – "පොළොවෙන් නුඹට කටු පඳුරු ද, වල් පැළෑටි ද උපදින්නේ ය."
ඉහත සඳහන් ප්‍රකාශ අතුරෙන් දෙවියන් වහන්සේ කායින්ට දුන් දඬුවම සඳහන් වන පිළිතුර වන්නේ
(1) A හා B ය. (2) A හා C ය. (3) B හා C ය. (4) B හා D ය.

26. තුන්වෙනි, පස්වෙනි සහ හත්වෙනි වසංගත වනුයේ අනුපිළිවෙළින්,
(1) කිනිතුළු උවදුර, ගඩු උවදුර හා පළඟැටි උවදුර ය.
(2) මැසි උවදුර, ගව සම්පත් වැනසීම හා ගනඳුරු උවදුර ය.
(3) කිනිතුළු උවදුර, ගව සම්පත් වැනසීම හා ගල් වර්ෂා උවදුර ය.
(4) ගව සම්පත් වැනසීම, ගල් වර්ෂා උවදුර හා පළඟැටි උවදුර ය.

27. "ඔහු ස්වාමීන් වහන්සේ අභිමුවෙහි ශ්‍රේෂ්ඨ වන්නේ ය. ඔහු මිදි යුෂවත්, මත්පැන්වත් නොබොන්නේ ය." ලූක් සුබාරංචියේ මෙසේ සඳහන් කරන්නේ
(1) මෝසෙස්තුමා පිළිබඳව ය. (2) ආබ්‍රහම්තුමා පිළිබඳව ය.
(3) ජාකොබ්තුමා පිළිබඳව ය. (4) ස්නාවක ජොහන්තුමා පිළිබඳව ය.

28. ජේසුස් වහන්සේ දේව රාජ්‍යයේ වටිනාකම උපමා මගින් ඉගැන් වූ බව තහවුරු කරන උදාහරණයක් වන්නේ
(1) කිරිඳි පිළිබඳ උපමාවයි. (2) නැතිවුණු බැටළුවා පිළිබඳ උපමාවයි.
(3) රන් කාසි දහය පිළිබඳ උපමාවයි. (4) යහපත් සමාරියා පිළිබඳ උපමාවයි.

29. "නිහතමානී ගුණ ඇත්තෝ භාග්‍යවන්තයෝ ය. ඔව්හු
(1) දෙවියන් වහන්සේ දකින්නෝ ය."
(2) දේශය උරුම කර ගන්නෝ ය.
(3) දෙවියන් වහන්සේගේ පුත්‍රයෝ යැයි කියනු ලබන්නෝ ය."
(4) ස්වර්ග රාජ්‍යය උරුම කර ගන්නෝ ය."

30. සැබෑ සිත් හැරීමකින් හා පසුතැවීමකින් යුතුව සමගි සන්ධානයේ දේව ප්‍රසාද නිධානය ලබාගන්නා
(1) වස්ත්‍ර නැතිවූවන්ට වස්ත්‍ර දෙයි. (2) පාපයන්ට නොවැටී ජීවත් වෙයි.
(3) වත නොව සිත ඉරා ගනියි. (4) තමන්ට වරද කළ අයට සමාව දෙයි.

31. සමගි සන්ධානයේ දේව ප්‍රසාද නිධානය තුළින්
(1) ආත්මයෙහි නොමැකෙන ලාංඡනයක් සනිටුහන් කරයි.
(2) බිඳ වැටුණු සබඳතා නැවත ගොඩ නැඟෙයි.
(3) නිල පූජකවරයේ පංගුකාරීත්වය ලැබේ.
(4) ධර්මදූත මෙහෙවරක් පැවරෙයි.

[හතරවැනි පිටුව බලන්න.

32. 'විවාහ ගිවිසුම' අවලංගු කළ නොහැකි දේව ප්‍රසාද නිධානයක් වන අතර, ඒ සඳහා අත්‍යාවශ්‍ය කොන්දේසියක් වන්නේ
(1) දෙමාපියන්ගේ ආශිර්වාදය ලබාගැනීමයි.
(2) විවාහ පොරොන්දුව ශබ්ද නගා පැවසීමයි.
(3) ප්‍රසාද ස්නාපනය ලැබූ දෙදෙනෙකු වීමයි.
(4) යුවලගේ සාක්ෂිකරුවන් ඉදිරියේ සිදුවීමයි.

33. ආරණ්‍යවාසී තාපසයන් අතර පළමුවැන්නා වන්නේ,
(1) බෙනඩික්තුමා ය.
(2) තිබිස්හි පාවුලුතුමා ය.
(3) අගුස්තීනුතුමා ය.
(4) අම්බ්‍රෝස්තුමා ය.

34. කතෝලික සභා ධර්මෝපදේශයට අනුව පූජක, පැවිදි, ගිහි සැමගේ දිවැසිවර කාර්යයෙහි ප්‍රධාන දූත සේවාව වන්නේ,
(1) ධර්මදානයයි.
(2) ආකල්ප වර්ධනය කිරීමයි.
(3) සැමටම ප්‍රේම කිරීමයි.
(4) එඬේරික කාර්යයයි.

35. අති උතුම් ලියෝ ජෝශප් කාදිනල් කාඩයින් හිමිපාණන් විසින් ආරම්භ කරන ලද්දේ
(1) ධර්මදූත ළමා සමාජයයි.
(2) කිතුදන පුබුදුවයි.
(3) මරිය හමුදාවයි.
(4) තරුණ කතෝලික ශිෂ්‍ය ව්‍යාපාරයයි.

36. ජේසුස් වහන්සේ තම ගෝලයින්ට ඉගැන් වූ යාච්ඤාව වාර්තා කර ඇති සුබාරංචි දෙක වන්නේ,
(1) මාක් හා මතෙව් සුබාරංචි ය.
(2) මාක් හා ලූක් සුබාරංචි ය.
(3) ලූක් හා ජොහන් සුබාරංචි ය.
(4) ලූක් හා මතෙව් සුබාරංචි ය.

37. ස්වාමිවාක් ආරාධනාව උච්චාරණය කිරීමට පෙර අප විසින් කළ යුත්තේ කුමක් ද?
(1) දෑත් ඉහළට එසවීම
(2) අපට වරද කළ සැමට සමාව දීම
(3) එදිනෙදා භෝජනය අපට නිරතුරු ලබා දෙන බව විශ්වාස කිරීම
(4) දෙවියන්ගේ ශ්‍රී නාමයට නමස්කාර කිරීම

38. මරියතුමිය ඉල්ලා සිටි පරිදි අපගේ සිත් හැරීම සඳහාත් දෙවනුව අන් අයගේ සිත් හැරීම සඳහාත් කළ යුත්තේ කුමක් ද?
(1) සැබෑ මනස්ථාපනයක් ඇතිකර ගැනීම.
(2) සමගි සන්ධානයේ ප්‍රසාද නිධානය ලබාගැනීම.
(3) දිනපතා ජපමාලය යැදීම.
(4) දිව්‍ය සත්ප්‍රසාද යැදුම් මෙහෙයට සහභාගි වීම.

39. රාත්‍රී යාම යැදුමේ දී ගායනා කරනු ලබන ප්‍රශංසා ගීය
(1) සෙකරියස්තුමාගේ ය.
(2) මරියතුමියගේ ය.
(3) මෝසෙස්තුමාගේ ය.
(4) සිමියොන්තුමාගේ ය.

40. කතෝලික සභා ධර්මෝපදේශයට අනුව භාවනාව යනු සොයා යාමකි. එහිදී විමසිලිමත් විය යුතු කරුණු **දෙක** ඇතුළත් නිවැරදි වරණය තෝරන්න.
A – භාවනාවේ ජීවිතය සඳහා පතපොත උපයෝගී කරගැනීම
B – කිතුනු ජීවිතයේ පරමාර්ථය
C – කිතුනු ජීවිතය ගතකළ යුතු ආකාරය
D – මූලාශ්‍ර වශයෙන් ශුද්ධ ලියවිල්ල මෙනෙහි කිරීම
(1) A හා B
(2) A හා C
(3) B හා C
(4) B හා D

* *

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

**14 S I, II**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2023(2024)
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2023(2024)
General Certificate of Education (Ord. Level) Examination, 2023(2024)

| | |
|---|---|
| කතෝලික ධර්මය | I, II |
| கத்தோலிக்கத் திருமறை | I, II |
| Catholicism | I, II |

## කතෝලික ධර්මය II

* **පළමුවන** ප්‍රශ්නය හා තෝරාගත් තවත් ප්‍රශ්න **හතරක්** ඇතුළුව ප්‍රශ්න **පහකට** පිළිතුරු සපයන්න.
* පළමුවන ප්‍රශ්නයට ලකුණු **20** ක් ද, තෝරා ගන්නා එක් ප්‍රශ්නයකට ලකුණු **10** බැගින් ද හිමි වේ.

**1.** (i) එළිදරව් සාහිත්‍යයේ ලක්ෂණ **දෙකක්** ලියන්න.

(ii) පෙන්තකොස්ත දිනයේ දී ශුද්ධාත්මයාණන්ගෙන් පූර්ණ වූ ජේසුස් වහන්සේගේ ශ්‍රාවකයින් තුළ ඇති වූ ප්‍රබල වෙනස්කම් **දෙකක්** ලියන්න.

(iii) ශුද්ධ වූ පාවුලුතුමා තම දෙවන ධර්මදූත ගමනේ දී දේශනා කළ නගර **දෙකක්** නම් කරන්න.

(iv) ශුද්ධ වූ සභාව ශුද්ධ වූ ත්‍රිත්වයට සම්බන්ධ වන ආකාරය කරුණු **දෙකකින්** දක්වන්න.

(v) දෙවියන් වහන්සේ විසින් තම ස්වරූපය හා සමානත්වය අනුව මිනිසා මවා ඔවුනට ආසිරි පතමින් කළ ප්‍රකාශයේ අඩංගු කරුණු **දෙකක්** ලියන්න.

(vi) ඊශ්‍රායල් ජනතාවගේ වර්ධනය මර්දනය කිරීමට මිසර රජතුමා අනුගමනය කළ පියවර **දෙකක්** ලියන්න.

(vii) ජේසුස් වහන්සේගේ බෞතීස්ම අවස්ථාවේදී අහසින් නික්මුණ හඬින් ප්‍රකාශ වූයේ කුමක් ද?

(viii) කිතුනු විවාහයේ පරමාර්ථයක් වන අන්‍යෝන්‍ය සහයෝගය හ[illegible]මය තුළ පරිපූර්ණත්වයට පත්වීම සම්බන්ධ කරුණු **දෙකක්** ලියා දක්වන්න.

(ix) කිසියම් පුද්ගලයෙකුගේ ආධ්‍යාත්මික යහපත සඳහා කළ හැකි පුණ්‍ය ක්‍රියා **දෙකක්** ලියන්න.

(x) ශුද්ධ වූ මතෙව් සුබාරංචියට අනුව ජේසුස් වහන්සේගේ ඉගැන්වීම්වල අඩංගු සාමය ගොඩනැගීමට අවශ්‍ය කරුණු **දෙකක්** ලියන්න.

**2.** (i) ලන්දේසීන් ශ්‍රී ලංකාවේ මුහුදු බඩ ප්‍රදේශ පාලනය කළ අවධියේ දී එම ප්‍රදේශවල ජීවත් වූ කතෝලිකයන්ට එල්ල වූ බාධා **දෙකක්** ලියන්න.

(ii) බ්‍රිතාන්‍ය යුගය තුළ මෙරටට සේවය සඳහා පැමිණි ධර්මදූත නිකාය **තුනක්** නම් කරන්න.

(iii) පාසල් සිසුන් අතර සුබාරංචිය පතළ කිරීමට ඔබට දායක විය හැකි ආකාරය කරුණු **පහකින්** විස්තර කරන්න.

**3.** (i) දරුවන් කෙරෙහි දෙමව්පියන්ගේ යුතුකම් **දෙකක්** ලියන්න.

(ii) දෙමව්පියන් කෙරෙහි දරුවන්ගේ යුතුකම් **තුනක්** ලියන්න.

(iii) මිතුරන් වෙනුවෙන් ඔබේ යුතුකම් ඉටු කළ අවස්ථා **පහක්** කෙටියෙන් විස්තර කරන්න.

**4.** (i) 'ලිටුර්ජියා' (ජනවන්දනා) යන ග්‍රීක වචනය සෑදී ඇත් 'ලාඕස්' සහ 'එර්ගොන්' යන වචන **දෙකෙහි** අර්ථය ලියන්න.

(ii) චතාරික සමය අර්ථකථනය කරන ආකාර **තුනක්** ලියන්න.

(iii) පාසල් සිසුවෙකු වශයෙන් ඔබ මීසම තුළ චතාරික සමය අර්ථවත් කර ගැනීමට ඔබට කළ හැකි දෑ **පහක්** කෙටියෙන් විස්තර කරන්න.

[අනෙක් පිටුව බලන්න.

5. (i) ජේසුස් වහන්සේගේ දූත සේවාවේ දී රෝගීන් සුවපත් කළ අවස්ථා **දෙකක්** නම් කරන්න.

(ii) රෝගීන් ආලේප කිරීමේ දේව ප්‍රසාද නිධානයෙන් ලැබෙන වරප්‍රසාද **තුනක්** ලියන්න.

(iii) රෝගී තත්ත්වයෙන් සමාජයේ අසරණව සිටින අය වෙනුවෙන් ඔබට කළ හැකි යහපත් ක්‍රියා **පහක්** කෙටියෙන් විස්තර කරන්න.

6. (i) දෙවන මැවීමේ කතාවේ දී දෙවියන් වහන්සේ මිනිසාට පැවරූ වගකීම් **දෙක** සඳහා යොදා ඇති හෙබ්‍රෙව් වචන සහ ඒවාහි අර්ථයන් ලියා දක්වන්න.

(ii) ඇතුළාන්ත සාමයට මූලික වන කරුණු **තුනක්** ලියා දක්වන්න.

(iii) ලක් සසුන තුළ කිතුදහම වෙනුවෙන් ඔබට කළ හැකි සේවාවන් **පහක්** කෙටියෙන් විස්තර කරන්න.

7. පහත සඳහන් මාතෘකාවලින් **දෙකක්** තෝරාගෙන කෙටි සටහන් ලියන්න.

(i) දේව අනාවරණයේ ලිඛිත මූලාශ්‍රය වන ශුද්ධ බයිබලය

(ii) උත්තම පූජක යාච්ඤාවේ ජේසුස් වහන්සේ තමන් වෙනුවෙන් කළ යාච්ඤාවේ අඩංගු කරුණු

(iii) නික්මයාම තුළ දිව්‍ය සංරක්ෂණය

(iv) "යුද්ධය පිටු දැක සාමයේ අවි වෙමු අපි"

* * *

